46165

OL/2015/64-S-I,II





**64 | S | I,II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2015 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2015 டிசெம்பர்
**General Certificate of Education (Ord. Level) Examination, December 2015**

දෙවන බස - සිංහල I, II
இரண்டாம் மொழி - சிங்களம் I, II
**Second Language - Sinhala I, II**

පැය තුනයි
மூன்று மணித்தியாலம்
*Three hours*

**දෙවන බස - සිංහල I    இரண்டாம் மொழி - சிங்களம் I    Second Language - Sinhala I**

**සැලකිය යුතුයි :**

(i) සියලු ම ප්‍රශ්නවලට උත්තර සපයන්න.
(ii) අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) උත්තරවලින් නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ උත්තරය තෝරා ගන්න.
(iii) ඔබට සැපයෙන උත්තර පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන් ඔබ තෝරා ගත් උත්තරයෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.
(iv) එම උත්තර පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා පිළිපදින්න.

**கவனிக்க :**

(i) **எல்லா** வினாக்களுக்கும் விடை எழுதுக.
(ii) **1 தொடக்கம் 40** வரையுள்ள வினாக்கள் ஒவ்வொன்றிலும் (1), (2), (3), (4) என எண்ணிடப்பட்ட விடைகளில் **சரியான அல்லது மிகப் பொருத்தமான** விடையைத் தெரிவுசெய்க.
(iii) **உமக்கு வழங்கப்பட்டுள்ள விடைத்தாளில் ஒவ்வொரு வினாவுக்கும் உரிய வட்டங்களில் உமது விடையின் எண்ணை ஒத்த வட்டத்தினுள்ளே புள்ளடியை (X) இடுக.**
(iv) அவ்விடைத்தாளின் மறுபக்கத்தில் தரப்பட்டுள்ள மற்றைய அறிவுறுத்தல்களையும் கவனமாக வாசித்துப் பின்பற்றுக.

**Note :**

(i) *Answer **all** questions.*
(ii) *In each of the questions from* **1** *to* **40**, *pick one of the alternatives* (1), (2), (3), (4) *which you consider is **correct or most appropriate.***
(iii) ***Mark a cross*** (X) ***on the number corresponding to your choice in the answer sheet.***
(iv) *Further instructions are given on the back of the answer sheet. Follow them carefully.*

● අංක **1** සිට **5** තෙක් ප්‍රශ්නවල **තද කළු** අකුරෙන් යෙදෙන පද වෙනුවට **කටවහර අනුව යෙදිය හැකි** වඩාත් සුදුසු පදය තෝරන්න.

**1** தொடக்கம் **5** வரையுள்ள வினாக்களில் **தடித்த எழுத்தில்** தரப்பட்டுள்ள சொல்லுக்குப் / சொற்களுக்குப் பதிலாக **பேச்சுமொழிக்கு ஏற்றதாக இடத்தக்க** மிகப் பொருத்தமான சொல்லைத் தெரிவுசெய்க.

Select the most suitable **spoken form** for the words printed in **thick black type** in questions **1** to **5.**

**1.** මේ ගමන යන්න **ඔයත් එන්න**
(1) ඔයාත් එන්න (2) ඔයත්තේන (3) ඔයත්තෙන්න (4) ඔයා එන්න

**2.** ඔයා ළඟ පෑන් **කීයක් තියෙනවා ද**?
(1) කීයක්කියනවා ද? (2) කීයත්තියෙනවා ද? (3) කීයතියනව ද? (4) කීයත්කියනවා ද?

**3.** අලුත් **පොතක් ගේන්න.**
(1) පොතග්ගේන්න (2) පොතක්කේන්න (3) පොතගේන්න (4) පොතග්කේන්න

**4.** ඔයා පොත **කියවන්නේ නැති ද**?
(1) කියවන්නෙති ද? (2) කියවන්නැති ද?
(3) කියවන්නේනැද් ද? (4) කියවනැද් ද

**5.** රාජු කියන දේ **තේරෙන්නේ නෑ**
(1) තේරෙන්නෑ (2) තේරෙන්නේනැත (3) තේරෙනෑ (4) තේරුනානෑ

[ 2 වැනි පිටුව බලන්න / பக். 2 ஐப் பார்க்க / *see page two*

- අංක **6** සිට **10** තෙක් ප්‍රශ්නවල ඇතුළත් වාක්‍ය, **උපදේශය, පණිවුඩය, අවවාදය, විධානය, ප්‍රාර්ථනය** යන ඒවා අතුරෙන් කවරකට අයත් දැයි තෝරන්න.

**6** தொடக்கம் **10** வரையுள்ள வினாக்களில் இடம்பெறும் வாக்கியங்களை **அறிவுறுத்தல், தகவல், ஆலோசனை, கட்டளை, பிரார்த்தனை** என்பவற்றுள் எதற்குரியது எனத் தெரிவுசெய்க.

Select the appropriate categories **instruction, message, advice, order, wish.** for the sentences given in questions **6** to **10.**

**6.** ඉක්මනට පොත් ගේන්න.
(1) උපදේශය (2) අවවාදය (3) ප්‍රාර්ථනය (4) විධානය

**7.** ඉක්මනින් සුවය ලැබේවා!
(1) අවවාදය (2) උපදේශය (3) ප්‍රාර්ථනය (4) විධානය

**8.** පිරිසිදු වතුර පමණක් බොන්න.
(1) උපදේශය (2) ප්‍රාර්ථනය (3) විධානය (4) අවවාදය

**9.** ආයෙත් දඟ වැඩ කරන්න එපා.
(1) උපදේශය (2) අවවාදය (3) පණිවුඩය (4) ප්‍රාර්ථනය

**10.** පිට්ටනිය වටේ රවුමක් දුවන්න.
(1) විධානය (2) අවවාදය (3) ප්‍රාර්ථනය (4) පණිවුඩය

- අංක **11** සිට **14** තෙක් ඇති වාක්‍යවල **හිස්තැනට ගැළපෙන වචනය** තෝරන්න.

**11** தொடக்கம் **14** வரையுள்ள வாக்கியங்களிலுள்ள **வெற்றிடங்களுக்குப் பொருத்தமான சொல்லைத்** தெரிவுசெய்க.

Select the **most suitable word to fill the blank** in each sentence in questions **11** to **14**.

**11.** එයාට ඇතුළට .......................... දෙන්න.
(1) එනවා (2) එන්න (3) එන්නේ (4) එමින්

**12.** ළමයට සල්ලි .......................... එපා.
(1) ගන්න (2) ගන්නේ (3) ගන්නවා (4) ගනිමින්

**13.** ඔයා .......................... කොහේ ද?
(1) ගිහින් (2) ගියා (3) ගිහිල්ලා (4) ගියේ

**14.** දැන්ම කෑම .......................... නැති ද?
(1) කමින් (2) කනවා (3) කෑවා (4) කන්නේ

- අංක **15** සිට **18** තෙක් ඇති පද පේළි අතුරෙන් **නිවැරදි ව යෙදී ඇති පදය** තෝරන්න.

**15** தொடக்கம் **18** வரையுள்ள வினாக்களிலுள்ள சொற்களுள் **சரியாக எழுதப்பட்டுள்ள சொல்லைத்** தெரிவுசெய்க.

Select the **correct word** in each group of words in questions **15** to **18**.

**15.** (1) කඩනවා (2) කටනවා (3) ගඩනවා (4) කගනවා

**16.** (1) සූතානම (2) සූඩානම (3) සූදානම (4) සූටානම

**17.** (1) වයිද්‍යවරයා (2) වයිද්දවරයා (3) වෛද්‍යවරයා (4) වෛද්‍යාවරයා

**18.** (1) නාට්ටිය (2) නාට්‍යය (3) නාට්ටය (4) නාටියය

[ 3 වැනි පිටුව බලන්න / பக். 3 ஐப் பார்க்க / see page three

19. **නිවැරදි ව අකුරු** යෙදී ඇති පද පේළිය තෝරන්න.
**சரியாக எழுதப்பட்டுள்ள** சொற்கூட்டத்தைத் தெரிவுசெய்க.
Select the **group of words with correct spelling.**
   (1) නිෂ්ශබ්ද, ආරාධනාව, ලේඛනය, ළිඳ
   (2) ආදර්ශය, පරීක්ෂණය, විශේශ, ප්‍රතිපල
   (3) ප්‍රදර්ශනය, ආස්වාදය, ශරීරය, ඖෂධ
   (4) තීක්ෂණ, නෞකාව, වර්ශාව, අධිකරනය

20. **නිවැරදි** වාක්‍ය ඇති පේළිය තෝරන්න.
**இலக்கண வழுவற்ற** வாக்கியத்தைத் தெரிவுசெய்க.
Select the **grammatically correct** sentence.
   (1) අපි මිනිසකු දුටුවෙමු.
   (2) වෛද්‍යවරයා රෝගියෙක් සුවපත් කළේ ය.
   (3) මුවෙකු පැන දුවයි.
   (4) නිළියක රංගනයක් ඉදිරිපත් කළා ය.

- අංක **21** සිට **25** තෙක් ප්‍රශ්නවල මුලින් දී ඇති පදයට **සමානාර්ථයක් දෙන පදය** තෝරන්න.
**21** தொடக்கம் **25** வரையுள்ள வினாக்களில் தொடக்கத்தில் தரப்பட்டுள்ள சொல்லுக்குரிய **ஒத்தக்கருத்துச் சொல்லைத் தெரிவுசெய்க.**
Select the **synonym of the word** given in questions **21** to **25**.

21. සවිය : (1) හම (2) ශක්තිය (3) ධෛර්යය (4) එඩිතරබව

22. මිණි : (1) මල් (2) ආභරණ (3) මැණික් (4) රත්තරන්

23. පොළොව : (1) මහී (2) සිඳු (3) තුරු (4) නුබ

24. බිඟු : (1) බඹරා (2) මැස්සා (3) කුරුල්ලා (4) මීමැස්සා

25. සතුට : (1) මුකුලිත (2) සොම්නස (3) දොම්නස (4) විකසිත

- අංක **26** සිට **30** තෙක් ප්‍රශ්නවල මුලින් දී ඇති පදයට **විරුද්ධාර්ථයක් දෙන** පදය තෝරන්න.
**26** தொடக்கம் **30** வரையுள்ள வினாக்களில் தொடக்கத்தில் தரப்பட்டுள்ள சொல்லுக்குரிய **எதிர்க்கருத்துச் சொல்லைத் தெரிவுசெய்க.**
Select the **antonym** of the word given in questions **26** to **30**.

26. ආරම්භය : (1) අවසානය (2) සමාරම්භය (3) සාඩම්බර (4) අවධානය

27. ඉස්සරහා : (1) උඩපැත්ත (2) යටපැත්ත (3) පිටිපස්ස (4) විස්තරය

28. ඇත්ත : (1) වත්ත (2) බොරුව (3) මාරුව (4) තිත්ත

29. දුබල : (1) කබල (2) හබල (3) අබල (4) ප්‍රබල

30. දුර : (1) ළඟ (2) ගඟ (3) මඟ (4) සඟ

[ 4 වැනි පිටුව බලන්න / பக். 4 ஐப் பார்க்க / *see page four*

46165

- අංක **31** සිට **35** තෙක් ප්‍රශ්නවල මුලින් දී ඇති පදයට කිසිදු ආකාරයකින් සම්බන්ධයක් **නොමැති** වචනය තෝරන්න.
  **31** தொடக்கம் **35** வரையுள்ள வினாக்களில் தொடக்கத்தில் தரப்பட்டுள்ள சொல்லுடன் எவ்விதத் தொடர்பும் **அற்ற** சொல்லைத் தெரிவுசெய்க.
  Select the word which is completely **unrelated** to the word given in questions **31** to **35**.

**31.** මල : (1) උගුල (2) පුෂ්පය (3) කිලුටු (4) වනය

**32.** ඉසුරු : (1) සම්පත් (2) උතුම් (3) ඉතුරු (4) ඊශ්වර

**33.** දන : (1) මිනිස්සු (2) මානය (3) ධනය (4) දානය

**34.** පහන් : (1) එළිය (2) ප්‍රසන්න (3) ආලෝකය (4) අඩු

**35.** සල : (1) ශාලාව (2) වළ (3) ගල (4) සල්ගස

- අංක **36** සිට **40** තෙක් ප්‍රශ්නවල දී ඇති ප්‍රකාශ වෙනුවෙන් යෙදිය හැකි **තනි වචනය** තෝරන්න.
  **36** தொடக்கம் **40** வரையுள்ள வினாக்களில் தரப்பட்டுள்ள விடயங்களுக்குப் பதிலாகப் பயன்படுத்தத்தக்க **தனிச் சொல்லைத்** தெரிவுசெய்க.
  Select the suitable **single word** for the group of words given in questions **36** to **40**.

**36.** කෙනකුගේ සේවය අගය කිරීම
(1) සම්මානය (2) අභිමානය (3) උපමානය (4) උපහාරය

**37.** වර්තමානයට ගැළපෙන සේ සකස් කිරීම
(1) නාගරීකරණය (2) නවීකරණය (3) වශීකරණය (4) සංස්කරණය

**38.** විවිධ වර්ණවලින් සමන්විත වූ
(1) වෛවර්ණ (2) අවර්ණ (3) දුර්වර්ණ (4) විවරණ

**39.** සිතේ උපදින බලවත් ආශාව
(1) අනායාසය (2) උද්වේගය (3) මනදොළ (4) දොම්නස

**40.** කෙනකු පදිංචි ප්‍රදේශයෙන් තාවකාලිකව ඉවත් වීම
(1) කුමන්ත්‍රණය (2) සංක්‍රමණය (3) ආක්‍රමණය (4) නිෂ්ක්‍රමණය

* *

[ 5 වැනි පිටුව බලන්න / பக். 5 ஐப் பார்க்க / *see page five*

**64 S II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2015 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2015 டிசெம்பர்
**General Certificate of Education (Ord. Level) Examination, December 2015**

**දෙවන බස - සිංහල II**
**இரண்டாம் மொழி - சிங்களம் II**
**Second Language - Sinhala II**

- I කොටසේ අංක 1 හා 2 ප්‍රශ්න ඇතුළු ව II හා III කොටස්වලින් **එක** ප්‍රශ්නය බැගින් තෝරාගෙන ප්‍රශ්න **හතරකට** පමණක් උත්තර ලියන්න.
  பகுதி I இல் 1 **ஆம்** 2 **ஆம்** வினாக்கள் உட்பட பகுதி II பகுதி III ஆகியவற்றிலிருந்து **ஒவ்வொரு** வினாவைத் தெரிவுசெய்து எல்லாமாக **நான்கு** வினாக்களுக்கு மாத்திரம் விடை எழுதுக.
  Answer only **four** questions including questions no. **1** and **2** in Part **I** and selecting one question from each Part **II** and Part **III**.

## I කොටස / பகுதி I / Part I

**1.** පහත දැක්වෙන මාතෘකාවලින් **එකක්** ගැන **වචන 150**ක පමණ රචනයක් ලියන්න.
பின்வரும் தலைப்புகளுள் **ஒன்றைப்** பற்றி ஏறத்தாழ **150** சொற்களில் கட்டுரை எழுதுக.
Write an essay of about **150 words** on any **one** of the following topics.

(i) අපේ පාසලේ විවිධ ප්‍රසංගය.
(ii) කෘෂිකර්මාන්තය නංවමු.
(iii) වන සම්පත සුරකිමු.
(iv) ගඟක් කතා කරයි.
(v) ජාතික සමගියේ වටිනාකම.

**2.** පහත දැක්වෙන "අ" යටතේ ඇති වාක්‍යවල **කළු කර** ඇති පද සුදුසු පරිදි ගළපා "ආ" යටතේ එන වාක්‍යවල හිස්තැන් සම්පූර්ණ කර ඔබේ උත්තර පත්‍රයෙහි ලියන්න.
"அ" நிரலில் **தடித்த** எழுத்தில் உள்ள சொல்லைப் பொருத்தமான விதத்தில் பயன்படுத்தி "ஆ" நிரலில் உள்ள வெற்றிடத்தைப் பூர்த்தி செய்து உமது விடைத்தாளில் எழுதுக.
Fill the blanks in the sentences in "ආ" with the suitable form of the words in **thick black** type in the sentences in "අ" and write them in your answer script.

| | "අ" | "ආ" |
|---|---|---|
| (i) | ගුරුවරයා පාඩම **උගන්වයි.** | ගුරුවරු පාඩම් ..................... |
| (ii) | අලියා කැලෑවේ **ඇවිදියි.** | අලි රංචුව කැලෑවේ ............ . |
| (iii) | **ශිෂ්‍ය නායකයා** විදුහල්පති මුණ ගැසුණේ ය. | ..................... විදුහල්පති මුණ ගැසුණහ. |
| (iv) | ගැහැනු පොළට **ගියෝ ය.** | ගැහැනියක් පොළට ..................... |
| (v) | ඔහු අප දෙස බලා **සිටියේ ය.** | අපි ඔහු දෙස බලා ..................... |
| (vi) | නැන්දා ඇඳුමක් **මසයි** | නැන්දා අක්කා ලවා ඇඳුමක් ............ |
| (vii) | ක්‍රිකට් නායකයා විසින් **සාමාජිකයෝ** මෙහෙයවනු ලබති. | ක්‍රිකට් නායකයා ..................... මෙහෙයවයි. |
| (viii) | මාළුවෙක් වෙරළට **පීනා එයි.** | මාළු රංචුව වෙරළට ..................... . |
| (ix) | මම පාසලට **ගියෙමි.** | අයියා ද මම ද පාසලට .................. |
| (x) | **බළලා** මල් බඳුන බින්දේ ය. | ........................ මල් බඳුන බින්දෝ ය. |

[ 6 වැනි පිටුව බලන්න / பக். 6 ஐப் பார்க்க / *see page six*

**II කොටස**

- **3** හා **4** යන ප්‍රශ්නවලින් **එකකට** පමණක් උත්තර සපයන්න.
  **3** ஆம் **4** ஆம் வினாக்களுள் **ஒரு** வினாவுக்கு மாத்திரம் விடை எழுதுக.
  Answer **one** question from questions **3** and **4**.

**3.** වචන සංඛ්‍යාව **25 ක්** පමණ වන සේ පහත දැක්වෙන පාඨය සාරාංශ කොට ලියන්න.
**பின்வரும் உரைப் பகுதியைச் சுருக்கி ஏறத்தாழ 25** சொற்களில் எழுதுக.
Write a summary of the following passage in about **25 words.**

ළමයින් වෙනුවෙන් නිර්මාණය කෙරෙන කවි, ගීත, නාට්‍ය, කතාන්තර ආදිය ළමා සාහිත්‍ය නිර්මාණ වශයෙන් සරල ව හැඳින්විය හැකි ය. ළමා සාහිත්‍ය නිර්මාණවලින් ළමයින්ගේ රසවින්දන හැකියාව දියුණු කරවන අතර ජීවිතය සඳහා යහපත් ආදර්ශ ද ලබා දෙයි. මේ නිසා ළමයින් හැකිතරම් සාහිත්‍ය නිර්මාණ කියවීමට හා රසවින්දනයට යොමු කිරීම කළ යුතු ය. ළමයින්ට කියවීම සඳහා සුදුසු නිර්මාණ තේරීමේ දී පරෙස්සම් විය යුතු ය. විශේෂයෙන් වෙළෙඳපොළේ ඇති විවිධ කවි, ගීත, කතාන්තර පොත් අතර ළමයින්ට සුදුසු නිර්මාණ ද නුසුදුසු නිර්මාණ ද ඇත. ඒ අතුරෙන් වඩාත් හොඳ නිර්මාණ තෝරා ඒවා කියවීමට හා රසවින්දනයට ළමයින් පෙලඹවිය යුතු ය.

**4.** පහත දැක්වෙන කොටස ලිඛිත භාෂාවෙන් ලියන්න.
பின்வரும் உரைப் பகுதியை எழுத்து மொழியில் எழுதுக.
Write the following passage in written language.

අපි අධ්‍යාපන චාරිකාවක් ගියා. මමත් ඒකට සහභාගි වුනා. බස් දෙකක් උදේන් ම ආවා. ගැහැනු ළමයි එක බස් එකක ගියා. පිරිමි ළමයි අනෙක් බස් එකේ ගියා. අපි මුලින් ම සීගිරිය බලන්න ගියා. ගුරුතුමිය සීගිරිය ගැන විස්තර කියලා දුන්නා. සීගිරිය බලන්න සංචාරකයොත් ඇවිත් හිටියා. සංචාරකයෝ අපි එක්ක කතා කළා. සීගිරිය දැකලා ඒ අය පුදුම වුණා.

**III කොටස**

- **5** හා **6** යන ප්‍රශ්නවලින් **එක්** ප්‍රශ්නයකට පමණක් උත්තර සපයන්න.
  **5** ஆம் **6** ஆம் வினாக்களுள் **ஒரு** வினாவுக்கு மாத்திரம் விடை எழுதுக.
  Answer only **one** question from questions **5** and **6**.

**5.** වීරගම සිට මන්නාරම නගරයට යාමට බස්රථයක් නැත. මේ නිසා පාසල් දරුවන් සහ ගම්වාසීන් කිලෝමීටර පහක් පමණ දුර ගෙවා මන්නාරම නගරයට පැමිණෙන්නේ පා ගමනිනි. මෙ නිසා වීරගම ජනතාව ඉමහත් දුෂ්කරතාවලට මුහුණ දෙති. වීරගම සිට මන්නාරම දක්වා බස්රථයක් යොදවන ලෙස ඉල්ලා මන්නාරම ඩිපෝ අධිකාරිතුමා වෙත යැවීමට රාජකාරි ලිපියක් ලියන්න. වීරගම සුබ සාධක සමිතියේ ලේකම් රාජේන්ද්‍ර රත්නායක ඔබ යැයි සිතන්න.

**නැතහොත්**

වීරගම ගමේ ක්‍රිකට් තරගාවලියක් පැවැත්වීමට වීරගම තරුණ සමාජය සැලසුම් කර ඇත. තරගාවලිය පැවැත්වෙන දිනය 2016 පෙබරවාරි 16 වන දා ය. දවස පුරාම වීරගම ක්‍රීඩා පිටියේ පැවැත්වෙන මෙම ක්‍රිකට් තරගාවලිය සඳහා 2016 ජනවාරි 2 වනදාට පෙර අයදුම් පත්‍ර ඉදිරිපත් කළ යුතු ය. ඉහත විස්තර සහිත ව ක්‍රිකට් තරගාවලිය පිළිබඳ ව ප්‍රදේශවාසීන් දැනුවත් කිරීම සඳහා සුදුසු දැන්වීමක් සකස් කරන්න. තරුණ සමාජයේ ලේකම් රාජිනී පෙරේරා ඔබ යැයි සිතන්න.

**6.** පහත දැක්වෙන දෙමළ / ඉංග්‍රීසි වාක්‍ය **සිංහලට** පරිවර්තනය කරන්න.
பின்வரும் தமிழ் / ஆங்கில வாக்கியங்களை **சிங்களத்தில்** மொழி பெயர்க்க.
Translate the following Tamil / English sentences into **Sinhala**.

(i) எனது மாமா ஒரு திறமையான தச்சனாவார்.
(ii) தயவுசெய்து எனக்கு ஒரு கோப்பைத் தேநீர் தாருங்கள்.
(iii) கண்டிக்கான அடுத்த புகையிரதம் எத்தனை மணிக்குப் புறப்படும்?
(iv) எனக்கு, தபாலகத்துக்குச் செல்லும் வழியை உங்களால் காட்ட முடியுமா?
(v) எமது அதிபர் தினமும் காலையிலேயே பாடசாலைக்கு வருவார்.

(i) My Uncle is a clever Carpenter.
(ii) Please give me a cup of tea.
(iii) When will be the next train to Kandy?
(iv) Could you show me the way to the post office?
(v) Our Principal comes to school early in the morning.

* * *